# සිංහලයාට තිබෙන එකම රට ලංකාවයි

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

**මේ සිංහල අපගේ රටයි**
**අප ඉපදෙන මැරෙන රටයි**

- මහගම සේකර

ජනාධිපතිතුමිය කෙරෙහි - අග්‍රාමාත්‍යතුමිය කෙරෙහි - රාජ්‍ය මන්ත්‍රණ සභාවේ සභාපතිතුමා ප්‍රධාන මැති ඇමති උතුමන් හා මුස්ලිම් ජනතාවද කෙරෙහි ස්වල්ප වූද අමනාපයක් අමෛත්‍රියක් නැත. එහෙත් සිංහලයාට තිබෙන එකම රට කලාපීය පාලනය ක්‍රමය ඇති කළොත් තව අවුරුදු විසිපහක් තිහක් ඇතුළත මුළු රටම දෙමළ පාලන ක්‍රමයකට යටත් වන්නට සිදු වෙනවා ඒකාන්තයි. එසේ වන්නේ කෙසේ දැයි ඇසිය හැකිය. එය මෙසේ ය.

කලාපීය පාලන ක්‍රමය සම්මත කළොත් උතුරේ හමුදාව හැර එකදු සිංහලයකු නැති වන්නට පිළිවන. පුරාණ ඉතිහාසය සලකා බලන්න. දකුණු ඉන්දියාවේ ජනගහනය කෝටි හතක් පමණ වෙයි. ශ්‍රී ලංකාවෙහි ජනගහනය එක් කෝටි හැත්තැලක්ෂයක් පමණ වනු ඇත.

ශ්‍රී ලංකාවට පුරාවෘත්ත ඉතිහාසය, ලිඛිත ඉතිහාසය යැයි ඉතිහාස දෙකක් ඇත. පුරාවෘත්ත ඉතිහාසය රාවණ රජු දක්වා අවුරුදු දහදාහක් පමණ අතීතයට යයි. ලිඛිත ඉතිහාසය විජය කුමරු සහපිරිවරින් පැමිණි දිනයෙන් ආරම්භ විය. එය බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑ දිනයයි. එහෙයින් සිංහලයින්ගේ වර්ෂය දන්නේ නැත. දැන ගත්තත් බොහෝ දෙනා පාවිච්චි කරන්නේ නැත. එය වැරදියි. දැන් ව්‍යවහාර කරන්නේ ක්‍රිස්තු වර්ෂයයි. දැන් එය අතහරින්නට නො හැකි නම් එයට මුලින් 2541 යෙදිය යුතුය.

මිහිඳු මහ රහතන් වහන්සේ සහ පිරිවරින් වැඩම වීම නිසා තිස්ස රජතුමා ප්‍රධාන ජනතාව බෞද්ධයෝ වූහ. නොබෝ කලකින් හෙළයෝ සිංහලයෝ බෞද්ධයෝ වූහ. ශ්‍රී ලංකාව එකම බෞද්ධ රටක් විය. අනුරාධපුරය අගනුවර විය. උතුර නැගෙනහිර දෙපළාතේ පමණක් මාහා විහාර 273 ක් හැදුණි.

ධර්මාශෝක ද්වීපචක්‍රවර්ති රජතුමාගේ කාලයෙහි පිටරට වලට ද ධර්මදූතයන් යැවුවත් දකුණු ඉන්දියාවට ගියේ ස්වල්ප වශයෙනි. එහෙයින් මහා විහාර ස්වල්පයක් තුබුණත් බෞද්ධ නො වන අය බහුලව සිටියහ. ඒ අය වරින් වර ශ්‍රී ලංකාව ආක්‍රමණය කළහ. එයින් නපුරු ම ආක්‍රමණය එළාර සේනාධිපතියා ගේ ආක්‍රමණයයි. ඔහු උතුරත් අනුරාධපුරයත් ආක්‍රමණය කළේ ය.

රුහුණේ උපන් ගැමුණු, පසුව දුටුගැමුණු රජතුමා රුහුණේ සිට මහ හමුදාවක් හදා ගෙන අවුත් යුදකොට ජයග්‍රහණය කළේ ය. පැරදුනවුන්ගෙන් බොහෝ දෙනෙක් ආපසු ගියහ. ටික දෙනෙකුන් උතුරේ නතර වුණි. මේ තමා උතුරේ දෙමළ ජනතාව පදිංචි වූ හැටි. එසේ නතර වූවෝ සිංහල ජනතාවත් සමග සහෝදරත්වයෙන් වාසය කළහ. එකල උතුරේ වාසය කළේ සිංහල බෞද්ධයන් ය. මහා විහාර 21 ක් තිබුණි. අද ගල් කැලිවත් තිබෙන්නේ කඳුරුගොඩ විහාරයෙහි පමණි.

දකුණු ඉන්දියාවේ ද්‍රවිඩ ආක්‍රමණ නතර වුයේ නැත. එය කොතරම් බලවත් වූවා දැයි කිවහොත් අගනුවර පොළොන්නරුවට ගෙන යන්නට සිදු වුණි. පසුව සිංහල රාජ්‍ය බලය රුහුණට ම පසු බැස්සේ ය. ඒ අතර පළමු විජයබාහු රජතුමා රුහුණට ම පසුබැස එහි සිටි රුහුණු පුත්‍රයන්ගෙන් මහා හමුදාවක් හදා ගෙන ගොස් යුදකොට රට බේරා ගත්තේ ය.

මේ හැම යුද්ධයක දී ම පරාජිත ජනතාවගෙන් කොටසක් ආපසු දකුණු ඉන්දියාවට ගියත් කොටසක් උතුරේ නතර විය. සිංහල බෞද්ධයන්ගේ කරුණා, මෛත්‍රිය නිසා ඔවුනට කරදරයක් නැතිව වාසය කරන්නට ඉඩ ලැබුණි. එකල යාපනේ රහතන් වහන්සේලා ද වාසය කළහ. එහෙයින් උතුරේ නැවතුණු දෙමළ ජනතාවට කිසිම කරදරයක් වුණේ නැත. එසේ දෙමළ ජනතාව ශ්‍රී ලංකාවෙහි ජනකොටසක් බවට පත්විය. එසේ වූ දෙමළ ජනතාව අපේ ම ජන කොටසක් හැටියට පිළිගන්නෙමු.

ශ්‍රී ලංකාව අසිංහල අබෞද්ධයන් සමග සුහදව සමගියෙන් වාසය කරන රටයි. බලයට පත්වන රජය රටෙහි හා ජනතාවගේ සුබසිද්ධිය සඳහා කටයුතු කිරීම ස්වයංසිද්ධියකි. පසුගිය

රාජ්‍ය කාලයෙහි ශ්‍රීමත් ජේ. ආර්. ජයවර්ධන ජනාධිපතිතුමා ප්‍රාන්ත රාජ්‍ය පාලන ක්‍රමයක් ඉදිරිපත් කළේය. ඒ අවස්ථාවෙහි මහා සංඝයා වහන්සේ ත් උගත් ජනතාව ත් ලෝකයෙහි මහ පොහොසත් මහ උගත් මහාජනකායක් සිටින පාලන ක්‍රමයෙන් ද දියුණුවට පත් රට වලට ගැලපෙන ප්‍රාන්ත රාජ්‍ය අපේ රටට ගැලපෙන්නේ නැතැයි කියා සිටියා.

විශේෂයෙන් අස්ගිරි පාර්ශවයේ අතිගරු මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ ත් මහාචාර්ය වල්පොල රාහුල ස්ථවිරයන් වහන්සේ ත් මාත් ශ්‍රීමත් ජනාධිපතිතුමා හමු වී මේ ප්‍රාන්ත රාජ්‍ය ක්‍රමය අපේ රටට ගැලපෙන්නේ නැතැයි තරයේ ම කියා සිටියෙමු. ශ්‍රීමත් ජේ. ආර්. ජයවර්ධන මැතිතුමා කාටවත් නොදැනෙන්නට ප්‍රාන්ත රාජ්‍ය ක්‍රමය අත්හැර සර්වපාක්ෂික සම්මේලනයක් පැවැත්වූවේය.

එයට සහභාගිවුණ සිංහල පක්ෂවලිනුත් දෙමළ පක්ෂ හයකින් 18 දෙනෙකු ත් මුස්ලිම්වරුනු ත් මහා සංඝයා වහන්සේ වෙනුවෙන් කලින් සඳහන් වුණු අප තුන් නමත් සහභාගි වීමු. මාස හයක් පමණ සාකච්ඡා කොට අවසානයෙහි අප තුන් නම ඉදිරිපත් කළ විසඳුම් සැලැස්ම සර්වපාක්ෂික සම්මේලනය පිළිගත්තේ ය. එහෙත් ක්‍රියාත්මක කළේ නැත.

අපේ සිංහල රට රැක ගන්නට බොහෝ කලක් ලිපි ලියුවත් දෙමළ ජනතාව සමග ස්වල්ප වූද විරුද්ධත්වයක් නැත. ආසියා පදනමේ ආධාරයෙන් අනුරාධපුර දිසාවේ නොදියුණු ගම් දියුණු කළෙමු. ඒ කාලයෙහි වාර කිහිපයක් යාපනයට ද ගොස් දුප්පත් මිනිසුන් හට උපකාර කළෙමු. ආනන්ද ගමගේ මහතාගේ ද උපකාරයෙන් පාසල් හතරක් සාදා දීමට හැකිවිය.

1983 දී සිදු කළ දෙමළ ආක්‍රමණය අප අනුමත කරන්නේ නැත. ඒ අවස්ථාවෙහි අසරණ වූ දෙමළ ජනතාව වජිරාරාමයෙහි විශාල ධර්ම ශාලාව පුරවා නවත්වා ගෙන සර්වෝදයේ ආරියරත්න මැතිතුමාගේ ද සහාය ඇතිව කලබල කාලය අවසන් වන තුරු සංග්‍රහ කළෙමු.

ඒ අතර කාලයෙහි වජිරාරාමයෙහි දහම් පාසල ඉරිදා ධර්මදේශනා හා අතරට පැමිණි පුණුපොහෝදා සීල සමාදාන ද නතර කළෙමු. යාපනේ පුස්තකාලය ගිනි තැබීම වැනි ක්‍රියා අප සලකන්නේ ඉතා පහත් ක්‍රියා හැටියටයි. වත්මන් රජය ක්‍රියාත්මක කරන්නට යන කලාපීය රාජ්‍ය ක්‍රමය ආරම්භ කළොත් මුළු උතුරම දෙමළ රාජ්‍යයක් බවට පත් වනවා ඒකාන්තයි. හමුදාව හැරුණාම මුළු උතුරම දෙමළ කලාපයක් වනු ඇත. මහා විනාශයට පත් වූ එක කිය කියා රජයේ ආධාර ද නො අඩුව ලැබෙනවා ඇත. ලෝක ආධාර ද නො අඩුව ලැබෙනවා ඇත.

රජයේ හමුදාව හැරුණාම මුළු උතුරම දෙමළ ජනයාගෙන් පිරෙනවා ඇත. එය වැළැක්විය හැක්කක් නො වේ. මෙහි වාසය කරන දෙමළ ජනතාව ගේ මූලස්ථානය දකුණු ඉන්දියාවයි. දෙපක්ෂයේ සමගිය වැළැක්විය හැක්කක් නොවේ. එය දවසින් දවස තර වී ඉදිරියට යනවා ඇති.

උතුරේ කලාපීය රජය මහ රජයත් සමග ඉතා හොඳින් සම්බන්ධකම් පවත්වමින් රහසේ අවි ආයුධ, කොටි රැස්කර ගන්නා සේම උතුරේ ජනතාව සම්බන්ධකර ගෙන අවිආයුධ රැස්කරවා ගෙන දකුණු ඉන්දියාවේ රජය නොව දෙමළ ජනතාව සම්බන්ධ කරගෙන ශ්‍රී ලංකාව ආක්‍රමණය කරනවා ඒකාන්ත ය.

එදාට සිංහල ජනතාවට කරගන්නට දෙයක් නැතිව සිංහල නායකයන්ගේ රූප පඹයන් වගේ හදාගෙන කොළඹ පුරාම පෙරහැරින් ගෙන ගොස් ගෝල්ෆේස් පිටියට ගෙනවිත් ගොඩක් ගසා මේ අපේ ජාතික හතුරන් යයි කියමින් ගිනි තබනවා ඒකාන්ත ය. සිංහලයිනි සමගි වවු සිංහල, දෙමළ, මුස්ලිම් සමගිය ජාතික සමගියේ පදනමයි.

ලංකාදීප 1997.09.07
ප්‍රඥාප්‍රභා 7

යතුරුලිවීම:චමිත ලක්මාල් මහතා
අජිත් ද අල්විස් මහතා